# බෞද්ධ පවුල් ජීවිතය

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

බෞද්ධයන් වෙසෙන ගෙදර බෞද්ධ ගෙදර නම් වේ. මෙහි බෞද්ධ ය යි කීවේ නමින් නො ව ක්‍රියාවෙන් හා ගුණයෙන් හා බෞද්ධ වූවනට ය. බෞද්ධ නාමයක් තුබුණු පමණින් හෝ බෞද්ධ කුලගෙයක උපන් හැදුණු වැඩුණු පමණින් හෝ බෞද්ධ දෙමවුපියන් ගේ දරුවකු වූ පමණින් හෝ කෙනෙක් බෞද්ධ නො වෙති. බෞද්ධ ගෙයක උපන් පමණින් බෞද්ධයා යැ යි කියනුවා නම් බෞද්ධ ගෙවල උපදින තිරිසන් සත්නට ද, **"බෞද්ධ බල්ලෝ - බෞද්ධ බළල්ලු"** ය යි කිව යුතු නො වේ ද? බෞද්ධ ගෙදරක හැදුණු වැඩුණු පමණින් හෝ බෞද්ධයා යැ යි කියනුවා නම් බෞද්ධ ගෙවල හැදෙන වැඩෙන ගස් වැල් ආදියට ද, **"බෞද්ධ වම්බොටු - බෞද්ධ මිරිස්"** ය යි කිව යුතු නො වේ ද? එය එ සේ නොකියනුවා නම් යටැ කී කරුණු අනුව පමණක් කෙනකුට **බෞද්ධයා** යැ යි කියන්නේ කෙසේ ද? එය කිසිසේත් සුදුසු නැත. එ හෙයින් බෞද්ධයා යැ යි කිව යුත්තේ බෞද්ධ ප්‍රතිපත්ති ඇත්තාට ම ය. තෙරුවන් සරණ ගිය බෞද්ධයකුට අඩු ම ගණනේ පන්සිල් හා ශ්‍රද්ධා - ශීල - ශ්‍රැත - ත්‍යාගාදි ගුණයන් වත් තිබිය යුතු ය. එ බඳු බෞද්ධ ප්‍රතිපත්තීන් ගෙන් යුක්ත තැනැත්තන් වාසය කරන ගෙදර ම බෞද්ධ ගෙදර වේ.

මෙ සේ තම නිවෙස බෞද්ධ නිවසක්, වාසනාවන්ත ගෙදරක් කර ගැනීමට ගෙදරක සිටිනා සැම දෙනා ම ආධාර විය යුතු ය. ඊට ප්‍රධාන වගකිය යුත්තේ අඹුසැමි දෙදෙනා වන බැවින් ඒ දෙදෙනා මුල් කැර ගෙන බුදුරජාණන් වහන්සේ සියලු පවුල් සතරකට බෙදා දැක් වූ හ.

## පවුල් සතර

මරණින් මතු ලැබෙන අපාය හා දිව්‍යලෝකය ගැන ආගමයෙහි උගන්වා තිබේ. එහෙත් එය සමහර සමයවල උගන්වන අපාය සහ දිව්‍යලෝකය මෙන් සාර්වකාලික - සදහට ම නොවෙනස් ව - එක සේ පවත්නේ නො වේ. සියලු සංස්කාර ධර්මයන් අනිත්‍ය බැවින් එය ද කලෙක දී නැති වී යයි.

බුද්ධධර්මයේ හැටියට තම ගෙදර ම අපාය හෝ දිව්‍යලෝකය හෝ කැර ගත හැකි ය. සත්මහල් ප්‍රාසාදයෙක වුව ද ඉන්නා පිරිස තුළ ගුණ ධර්මයක්, ඔවුනොවුනට ප්‍රේමයක් හෝ සමඟියක් හෝ නැත් නම් ඒ ගෙදර අපායෙකි, හෙවත් නියම සැපතක් නැති තැනෙකි. අතුපැලෙක වුව ද ඉන්නා පිරිස ගුණදහමින් යුක්ත නම්, ඔවුනොවුන් ප්‍රේමයෙන් හා සමගියෙන් සම්පූර්ණ නම් ඒ පැල ඒකාන්තයෙන් ම දිව්‍යලෝකයෙකි, හෙවත් හිතට සැප ඇති තැනෙකි.

"සුද්ධිඅසුද්ධි පච්චත්තං
නාඤ්ඤො අඤ්ඤං විසොධයෙ."
(ධම්මපදය)

"පිරිසුදු අපිරිසිදු
බව් තම තමා වෙත මැ යැ
අනෙකෙක් අනෙක් කෙනකුන්
පිරිසුදු කළ නො හේ මැ යැ"

"අත්තනා කුරුතෙ ලක්ඛිං
අලක්ඛිං කුරුත'ත්තනා
න හි ලක්ඛිං අලක්ඛිං වා
අඤ්ඤො අඤ්ඤස්ස කාරකො"
(සිරිකාළකණ්ණි ජාතකය)

"තම හට සිරි නොසිරි
කැරැ ගන්නේ තෙමේ මැ යැ

අනෙකෙක් අන් එකකු හට
සිරි හෝ නොසිරි නො කෙරේ.”

යන මේ ධර්මන්‍යායයන් අනුව තම නිවෙස අපාය හෝ දිව්‍යලෝකය හෝ කැර ගන්නේ තමන් - ගෙදර සිටිනවුන් විසින් ම ය. බැහැර සිටියකුට එය නම් නොකට හැකි ම ය.

බුද්ධධර්මය අනුව අප ජීවත් වන්නේ හෙවත් අපේ ජීවිතය පවත්නේ එක මොහොතෙක ම ය. අතීත ක්‍ෂණයන්හිත් නො ව අනාගත ක්‍ෂණයන්හිත් නො ව දැන් පවත්නා - වර්තමාන ක්‍ෂණයෙහි ය. අතීත ක්‍ෂණ ගත වී ඉවර හෙයිනුත් අනාගත ක්‍ෂණ ගැන විශ්වාසයක් තැබිය නොහැකි හෙයිනුත් ඒකාන්ත බලාපොරොත්තුවක් තැබිය හැක්කේ වර්තමාන ක්‍ෂණය ගැන පමණ ය. එ සේ ම අතීත ජාති ගැන දැන් සිතීමෙන් වැඩක් නැත. මතු ජාතියක් ඇත ද එය සැපවත් කැර ගැනීමට පින් කට යුතු වුව ද, එය කවර ආකාරයෙකින් වේ දැ යි කිව නොහැකි හෙයින් නුවණැත්තන් විසින්, මේ ලැබූ ජාතිය තරම් වාසනාවන්ත උපතක් සමහර විට නිවන් දකින තුරු නො ලැබිය හැකි ය යි සිතා ජීවිතය ම සර්වප්‍රකාරයෙන් සාර්ථක කැර ගන්නට උත්සාහ දැරිය යුතු ය.

එ සේ නම් ගිය ජාති ගියාවේ. එන ජාති ආවාවේ. මතු ජාතියෙහි ස්වර්ගය ලැබුණොත් ලැබුණාවේ. එය ස්ථිර නැති නිසා බුදුරජාණන් වහන්සේ දෙශනා කළ අයුරින් පිළිපැදැ තම නිවෙස ම දිව්‍යලෝකයක් කැර ගත යුතු ය. පහත සඳහන් පවුල් සතර විස්තර කරන තැන යෙදූ මළ මිනිය යන අර්ථය ඇති ‘ඡව’ ශබ්දයට තේරුම් ගැනීමේ පහසුව සඳහා ප්‍රේත ශබ්දය අර්ථ වශයෙන් යොදන බව සැලැකිය යුතු ය.

1. ප්‍රේතයකු ප්‍රේතියක හා වෙසෙන පවුල

උභො ච හොන්ති දුස්සීලා - කදරියා පරාභාසකා
තෙ හොන්ති ජානිපතයො - ඡවා මංවාසමාගතා

යම් පවුලෙක භාර්යාව, ස්වාමිපුරුෂයා යන දෙදෙනා ම දුශ්ශීලයෝ ද හෙවත් තමනට අයත් පන්සිල් ආදි සිල් නැත්තෝ ද, තද මසුරෝ ද, නිතර ඔවුනොවුන් බැණ ගන්නා ස්වභාවය ඇත්තෝ ද, එ සේ ම ගුණවතුන් - සිල්වතුන් බැණ වදිද් ද, එ සේ වූ අඹුසැමියෝ ගුණ මළවුන් බැවින් මළ තැනැත්තෝ ය, එක් ව වාසය කරන ප්‍රේතයකු ප්‍රේතියක වැන්නෝ ය. මේ ලෝකයෙහි සිටින අවාසනාවන්ත ම පවුල ය. ධනසම්පත් ආදිය නොඅඩු ව ඇතත් මෙ බඳු අඹු සැමියනට නම් නියම සැපතක් නැත. පිටතට නොපෙනෙන්නට ඉතා අමාරුවෙන් වසාගෙන සිටිතත් ඔවුන් ගේ හිත් නම් දුකෙන් පිරිලා ය.

2. ප්‍රේතයකු දෙව්දුවක හා වෙසෙන පවුල

සාමිකො හොති දුස්සීලො - කදරියො පරිභාසකො
භරියා සිලවතී හොති - වදඤ්ඤූ වීතමච්ඡරා
සා පි දෙවී සංවසති - ඡවෙන පතිනා සහ

යම් පවුලෙක ස්වාමිපුරුෂයා දුශ්ශීල ද, තද මසුරු ද, නිතර කිපී බණින ස්වභාවය ඇත්තේ ද, එහෙත් භාර්යාව තමනට අයිති ශීලයෙන් සිල්වත් ද, දුප්පත් අසරණයන් ගේ වචන දැනැ ඒ ඒ අවස්ථාවෙහි දෙනසුලු වේ ද, මසුරු ගති යට පත් කොට ඇත්තී ද, එය ගුණවත් බැවින් දෙව් දුවක වූ භාර්යාවක සමඟ නිර්ගුණ ප්‍රේතයෙක් වෙසේ යැ යි කිව යුතු පවුල වේ. මේ පවුල ද ඒ තරම් වාසනාවන්ත නැත.

3. දෙවියකු ප්‍රේතියක හා වෙසෙන පවුල

සාමිකො සීලවා හොති - වදඤ්ඤූ වීතමච්ඡරො
භරියා හොති දුස්සීලා - කදරියා පරිභාසිකා
සා පි ඡවා සංවසති - දෙවන පතිනා සහ

යම් පවුලෙක ස්වාමිපුරුෂයා තමනට අයත් ශීලාදි ගුණයෙන් යුක්ත ද, දිය යුතු තැන දීමට පුරුදු ද, මසුරු කම් යටපත් කොට වෙසේ ද, ඒ තැන ම භාර්යාව දුශ්ශීල ද, දිය යුතු තැන නොදෙනසුලු වේ ද, නිතර කිපී ස්වාමියා හා වෙනත් නොයෙක් දෙනා හෙළා තළා කතා කරනසුලු වේ ද එ බඳු වුවත් වෙසෙන තැන ගුණවත් බැවින් දෙවියකු බඳු වූ ස්වාමිපුරුෂයකු හා නිර්ගුණ භාර්යාවක වූ ප්‍රේතියක වෙසෙන පවුල වේ. මේ පවුල ද එ තරම් වාසනාවන්ත නො වේ.

4. දෙවියකු දෙව්දුවක හා වෙසෙන පවුල

උභො සද්ධා වදඤ්ඤූ ච - සඤ්ඤතා ධම්මජීවිනො
තෙ හොන්ති ජානිපතයො - අඤ්ඤමඤ්ඤං පියංවදා

යම් පවුලෙක අඹුසැමි දෙදෙනා සැදැහැ ඇත්තෝ ද, දිය යුතු තැන දීමට පුරුදු ද, ශීලාදි ගුණයන් ගෙන් යුක්ත බැවින් තැන්පත් ව වෙසෙත් ද, කොතෙක් ලාභ ලැබිය හැකි වුවත් අයුතු මාර්ග අත් හැර දැහැමින් ජීවත් වෙත් ද ඒ අඹුසැමියෝ ඔවුනොවුනට ප්‍රිය මනාප කතා ඇත්තෝ ය. මෙය ගුණයෙන් උසස් වූ දෙවියකු හා දෙව්දුවක වෙසෙන පවුල වේ. මේ පවුල ඉතා වාසනාවන්ත ය. මෙ බඳු අඹු සැමියෝ කයට මෙන් හිතට ද සැප ඇති ව වසන්නෝ වෙති.

## II

## ආදර්ශවත් පවුලක්

බුදුරජාණන් වහන්සේ ගේ කාලයෙහි දඹදිව භග්ග නම් රට සුංසුමාර ගිරියෙහි ගුණවත් ආදර්ශවත් අඹුසැමි යුවළක් වුසූහ. මේ දෙදෙනාට **නකුල** නම් පුතෙක් වි ය. එ හෙයින් ඒ දෙදෙනා නකුලපිතා (නකුල ගේ පියා)නකුලමාතා (නකුල ගේ මව) නමින් ප්‍රකට වූහ. මේ දෙදෙනා තරුණ කාලයේ දී ම බුදු රදුන් ගේ බණ අසා සෝවාන් වූහ. දෙදෙනා ම ශ්‍රද්ධා ශීලාදි ගුණයන් ගෙන් යුක්තයහ. ඔවුනොවුනට ප්‍රියයහ, මනාපයහ.

දිනක් මේ දෙදෙනා බුදුරජාණන් වහන්සේ වෙතට ගොස් වැඳ එකත් පසෙක සිට නකුලපිතා මෙ සේ කි ය: ‘ස්වාමීනි, මේ නකුලමාතාව හා මා එක් ව වාසයට පැමිණියේ ඉතා තුරුණු වියෙහි දී ය. එ දා පටන් මේ වන තුරු අපේ කිසි ම අමනාපයක් නො වී ය. මෙ තෙක් කලකට මා නරක සිතිවිල්ලක් වත් ඇති කර ගත්තේ නැත, අන් ස්ත්‍රියක දෙස නුසුදුසු බැල්මෙකින් බැලුවේ වත් නැත, එ බඳු තැන නරක ක්‍රියා ගැන කවර කතා ද? මෙ සේ හෙයින් මම මේ ජාතියේ පමණක් නො ව මතු ජාතීන්හි ද මේ නකුලමාතාව හා එක් ව වාසයට කැමැති වෙමි’. එ විට නකුලමාතාව ද ‘ස්වාමීනි, ඉතා තුරුණු වියෙහි දී එක් ව වාසයට පැමිණි අපේ කිසි විටෙක වත් අසමගියක් අමනාපයක් නො වී ය. මෙ තෙක් කලකට මා ද නරක සිතිවිල්ලක් වත් ඇති කැර ගත්තේ නැත. වැරදි බැල්මෙකින් පරපුරුෂයකු දෙස බැලුවේ වත් නැත. එ බඳු තැන නරක ක්‍රියා ගැන කවර කතා ද? මෙ සේ හෙයින් මම ද මේ ජාතියේ පමණක් නො ව මතු ජාතීන්හි ද මේ නකුලපිතා හා එක් ව වාසයට කැමති වෙමි’ යි කීවා ය.

බුදුරජාණන් වහන්සේ ද දෙදෙනාට ම ප්‍රශංසා කොට හොඳ අඹුසැමි යුවළක් වෙතොත් මේ නකුලපිතා හා නකුලමාතාව මෙන් වාසය කට යුතු ය යි වදාරා මේ දෙදෙන ආදර්ශයට ගත යුතු පවුල ලෙස ද වදාළහ. තවත් දිනක් නකුල පියා ලෙඩ වී ඉතා දුර්වල අසාධ්‍ය තත්ත්වයට පැමිණි අවස්ථාවෙහි ගුණවත් නකුල මව ගුණවත් ස්වාමිපුරුෂයා වෙතට ගොස් තමන් ගුණ කියමින් සිත සනස්වමින් සතුටු කරවමින් හිමියා ගේ හිතට ශක්තිය දෙන්නට වූවා. එ සේ ලැබූ මානසික බලය නිසා නකුල පියා සුවපත් වී ය. ඊට පසු දිනෙක බුදුරජාණන් වහන්සේ වෙතට ගොස් මේ පුවත සැළ කොට එ කී ගුණ තම භාර්යාව වෙත ඇද්දැ යි නකුල පියා ඇසී ය. බුදුරජාණන් වහන්සේ ද, “එ සේ ය, ඊටත් වඩා ගුණ ඇත්තේ යැ” යි ප්‍රකාශ කළහ.

යට කී ලෙස පවුල් සතරෙහි ලක්‍ෂණ ප්‍රකාෂ කළ බුදුරජාණන් වහන්සේ සතරවනු ව කී යහපත් පවුලට මෙ ලොව හා පරලොව වශයෙන් ලැබෙන අනුසස් ද දෙශනා කළහ.

අත්‍ථා සම්පචුරා හොන්ති - ඵාසත්ථං උපජායති
අමිත්තා දුම්මනා හොන්ති - උභින්නං සමසීලිනං,

ඉධ ධම්මං චරිත්‍වාන - සමසීලබ්බතා උභො
නන්‍දිනො දෙවලොකස්මිං - මොදන්ති කාමකාමි නො.
(අංගුත්තර - චතුක්ක නිපාතය)

සතරවනු ව කී හොඳ ම පවුලක් ව වාසය කරන අඹු සැමි දෙදෙනාට අර්ථයෝ (දියුණුව - ධනය) බොහෝ වෙත්. සම වූ සිල් - පැවැතුම් ඇති ඔවුනට ගෙදර පහසුවෙන්, ප්‍රේමයෙන් හා සමඟියෙන් විසිය හැකි වේ. ඔවුන් ගේ යහපත් පැවැත්ම නිසා සතුරනට නපුරක් - විපතක් නොකළ හැකි වේ. එ හෙයින් සතුරෝ නොසතුටු සිත් ඇත්තෝ වෙත්. සමාන වූ ශීලව්‍රත ඇති

ඒ අඹුසැමි දෙදෙනා මෙ ලොව ධර්මයෙන් ප්‍රීතිමත් ජීවිතයක් ගත කොට මරණින් මතු දිව්‍යලෝකයෙහි තමන් කැමැති කැමැති සම්පත් විඳිමින් සතුටු වන්නාහ.

## නන්දිය නම් වෙළෙඳ මහතා

පූර්වයෙහි ශ්‍රී ලඞ්කාද්වීපයෙහි නන්දිය නම් වෙළෙඳ මහතෙක් වී ය. ඔහු තෙරුවන් සරණ ගිය ගුණවත් සිල්වත් උපාසක මහතෙකි. ඔහු හා ගෘහබන්ධනයට ඇතුළත් වූ සුරූපී තරුණ කාන්තාව රූපසෞන්දර්යයෙන් මෙන් ම ගුණ සපුවෙන් ද නොඅඩු වූවා. මෙ සේ දෙදෙනා දැහැමින් සෙමෙන් හා ගුණදහමින් යුතු ව වෙසෙන අතර ස්වාමිපුත්‍රයාට වෙළෙඳාම සඳහා බැහැරට යන්නට සිදු වී ය. හේ සියලු කටයුතු සම්පාදනය කොට තබා දියයුතු අවවාද ද දී නැව් නැගී පිටරට ගියේ ය. හොඳ ගුණවත් භාර්යාවෝ තම ස්වාමියා රටින් බැහැර ගියේ ද තමන් ගේ බ්‍රහ්මචර්යය වත් අනෙක් යහපත් පැවැතුම් වත් වෙනස් කැර නො ගනිති. මේ වෙළෙඳ භර්යාව ද හිමියා බැහැරට ගොස් තුන් අවුරුද්දක් ගත වූයේ නමුදු තම ගුණවත් බවේ මඳකුදු අඩුවක් ඇති කැර නොගත්තී ය.

එ කල්හි වුසූ රජතුමා සිව නම් අමාත්‍යයකුට මේ වෙළෙඳ භාර්යාව වාසය කරන පළාත පාලනය කිරීමට පැවැරී ය. ඔහු ඒ නගරයට පැමිණෙන උත්සවයෙහි දී මුළු නුවර ම අලඞ්කාර කොට සරසා එහි ස්ත්‍රී පුරුෂයෝ ද ඇඳ පැළැඳ සැරසී සිටියහ. ස්වභාවයෙන් රූමත් වෙළෙඳ භාර්යාව අලඞ්කාර ඇඳුම් පැළැඳුම් නිසා පුහුදුන් පුරුෂයන් මුළා කරවන තරම් වූවා. සිව නම් අමාත්‍යයා ද නුවර සිරි බලමින් වීථි සංචාරය කරන අතර රූමත් වෙළෙඳ භාර්යාව දැක කාමයෙන් අන්ධ ව ඇය භාර්යාව කැර ගන්නට සිතී ය. තම නිවෙසට ගිය ඇමැතියා වෙළෙඳ භාර්යාව ගේ ස්විමිපුරුෂයා රටින් බැහැර ගොස් සිටින බව දැනැ දූත ස්ත්‍රියක අත පඬුරු ද සමඟ තම අදහස් ද කියා එවී ය.

මේ ගුණවත් වෙළෙඳ භාර්යාව පඬුරු ද ආපසු හරවා ආගම හොඳින් දැනැ ඉගෙන සිටි හෙයින් ධර්මයෙහි සඳහන් වන පරිදි කාමයන් ගේ ආදීනව නන් ලෙසින් කියා ඇරියේ මෙ සේ ය:

> "කායො'යං කුණපෙ ජාතො - කුණපො කුණපෙ රතො
> ඉන්‍ද්‍රජාලකරූපො'ව - බාලානම'භිපත්‍ථිතො.
>
> අමෙජ්ඣපොත්‍ථකො වායං - චින්තිතො බාලනන්‍දිතො
> ද්වත්තිංසවිධ කොට්ඨාසො - කෙසලොමාදිකො අයං."

මේ ශරීරය මුතු මැණික් ආදි වටිනා දැයෙන් නිමියේ නො වේ. සුවිපවිත්‍ර තැනෙක උපන්නේත් නො වේ. මවු කුස නමැති අපවිත්‍ර ස්ථානයෙහි පණුවකු මෙන් උපන්නේ ය. මෙ සේ උපන්නා වූ මුළා වූ පුරුෂයෝ තමාටත් වඩා මාතුගාම නමැති කුණපයෙහි ඇලුම් කරන්නෝ ය. ඉන්ද්‍රජාලයෙහි පෙනී ගිය රූපයක් වැනි මේ අස්ථිර අසාර කය අඥානයෝ ශුභ දෙයෙකැ යි ප්‍රාර්ථනා කෙරෙති. මේ ශරීරය කෙස් ලොම් ආදි දෙතිස් කුණපයෙකින් යුක්ත හෙයින් ඇතුළේ අසුචි පුරවා පිටත සිතියම් කළ රූපයක් වැනි ය. එහෙත් අඥානයෝ මීට ප්‍රිය කෙරෙති.

මෙ සේ කියා යැවුයේ වී නමුත් කාමයෙන් ආතුර ව සිටි අඥාන ඇමැතියා දෙවනු තෙවනු ව ද වඩ වඩාත් පඬුරු දී දූත ස්ත්‍රිය එවී ය. නුවණැති ගුණවත් වෙළෙඳ භාර්යාව ඊට ද පිළිතුරු යවන්නී:

> "දුග්ගන්‍ධො අසුචී කායො - කුණපො උක්කරූපමො
> නින්‍දිතො චක්ඛුභූතෙහි - කායො බාලාභිනන්‍දිතො.
>
> අල්ලචම්ම පටිච්ඡන්නො - නවද්වාරො මහාවණො
> සමන්තතො පග්ඝරති - අසුචී පූතිගන්‍ධියො.
>
> ආගන්තුකෙන කායො'යං - අලංකාරෙන මණ්ඩිතො
> රාගන්‍ධකත චක්ඛූනං - සුභරූපංව දිස්සති."

මේ ශරීරය ඉතා දුර්ගන්ධ ය, අපවිත්‍ර ය, පණුවන් වැහෙන කුණපයක් වැනි ය, කුණුකසළ ගොඩක් ද වැන්න. නුවණැතියන් විසින් නින්දා කරන ලද්දා වූ මේ කය මෝඩයනට නම් සන්තෝෂ උපදවන්නේ ය. දෙතිස් කුණප කොටසින් ගහන ව තෙත් ගතිය ඇති සමකින් වසන

ලද ඇස්, කන, නාසාදි නව දොර නමැති මහා වණ මුඛවලින් දුඟීන්ධ අසූචි වහනය වන්නේ ය. මේ ශරීරය බාහිර අලඞ්කාරයන් ගෙන් සරසන ලද්දේ අඥාන සත්ත්වයනට යහපත් රූපයක් මෙන් පෙනෙන්නේ ය. මේ ආදි නන් අයුරින් කාමයන් ගේ ආදීනව කියා තම හිමියා මිහි පිට සිටින තුරු අන් හිමියකු ප්‍රාර්ථනා නොකරන බව ද කියා යැවී ය. කාමයෙන් අන්ධ වූ අමාත්‍යයා වෙළෙඳ පුත්‍රයා මරා හෝ ඇය භාර්යා කර ගන්නට සිතා අහිංසක වෙළෙඳ පුත්‍රයා මැරීමට උපායක් සිතී ය.

මේ මූඪ අසත්පුරුෂ අමාත්‍යයා එ බඳු ම දුෂ්ට මන්ත්‍රකාරයන් ගේ ද ආධාර ලැබ අමුසොහොනකට ගොස් මන්ත්‍ර ජප කොට නන්දිය නම් වෙළෙඳ පුත්‍රයා මරනු සඳහා යකකු පිටත් කොට යැවී ය. මේ වේලාවෙහි වෙළෙඳ මහතා නැව් නැගී ආපසු එමින් සිටියේ ය. යක්‍ෂයා ද මන්ත්‍ර බලයෙන් හා ඍද්ධ්‍යානුභාවයෙන් ද ක්‍ෂණයෙකින් ගොස් නැවට ගොඩ වී ය. මෙය දුටු නැවේ සියලු දෙනා ම බියෙන් කැගාන්නට වූහ. එ විට නන්දිය නම් වෙළෙඳ පුත්‍රයා ඉදිරියට පැමිණ කැගැමෙන් වැඩක් නැත, තුනුරුවන් සරණ යන්නැ යි කී ය. මරණ බියෙන් බියපත් ව සිටි සියලු දෙනා ම "බුද්ධං සරණං ගච්ඡාමි - ධම්මං සරණං ගච්ඡාමි - සඞ්ඝං සරණං ගච්ඡාමි" යි කියන්නට වන්හ. බුද්ධ යන නාමය ඇසෙත් ම යකාට එ තැන සිට ගත නොහැකි වී ය. ක්‍ෂණයකින් යක්‍ෂයා ආපසු හැරී අමුසොහොනට ගියේ ය. යකැදුරෝ නැවැතත් මන්ත්‍ර ජප කොට යකා පිටත් කළහ. එ විට ද නැවේ සිටියෝ තෙරුවන් සරණ යන්නට වූහ. ඒ වර ද යකා ආපසු පැන දිව්වේ ය. තෙවන වර ද එ සේ ම වී ය. කාමයෙන් අන්ධ වූ අසත්පුරුෂ අමත්‍යයා ද තමා ගේ අභිමතාර්ථය සිදු කැර ගැනීමට වෙළෙඳ පුත්‍රයා මරා එන තුරු සොහොනෙහි ම නැවැතී සිටියේ ය. යකැදුරෝ සිවු වන වර ද යකා පිටත් කොට යැවූහ. යකා නැවට ඇතුළු වෙනුවත් සමඟ ම එහි සිටියෝ තෙරුවන් සරණ යන්නට වූහ. බුද්ධ යන වචනය ඇසෙත් ම යකාගේ හිස පැළෙන තරම් වේදනා ඇති වී ය. එයින් කොපාවිෂ්ට වූ යක්‍ෂයා ක්‍ෂණයකින් අවුත් අමාත්‍යයා හා යකැදුරුන් ද මරා දැම්මේ ය.

නිවැරැදි යහපත් වෙළෙඳ පුත්‍රයා ගේ ජීවිතයට හා ගුණවත් වෙළෙඳ භාර්යාව ගේ බ්‍රහ්මචර්යයට ද අනතුරු කරන්නට සූදානම් වූ අමාත්‍යයාට හා ඊට ආධාර වූ යකැදුරනට ජීවිතක්‍ෂයට පත් වන්නට සිදු විය. ගුණවත් අඹුසැමි දෙදෙනා ධර්මය විසින් රැක ගනු ලැබ ජීවිතාන්තය තෙක් යහතින් වාසය කොට කම් වූ පරිදි මිය පරලෝ ගියෝ ය.

යම් කිසි පවුලෙක අඹුසැමි දෙදෙනා ගුණ දහමින් යුතු ව සතුටින් හා නුවණින් ද, ප්‍රේමයෙන් හා සමඟියෙන් ද වාසය කරත්හොත් ඔවුනට මෙහි දී ම දිව්‍යලොකයෙක මෙන් වාසය කරන්නට ලැබෙනුවා පමණක් නො ව, හතුරනට ද කිසි අනතුරක් නොකට හැකි වේ. ධර්මචාරී වන ඔවුහු නිතර ම ධර්මය විසින් ම රැකෙනු ලැබෙති.

මෙ තැන් සිට තම නිවෙස හොඳ බෞද්ධ ගෙදරක් කර ගැනීමට - තමන් නියම බෞද්ධයන් වීමට ඒ ඒ අය තුළ තිබිය යුතු ගුණ, කළ යුතු යුතුකම් ආදිය විස්තර කරනු ලැබේ. එ සේ ම නියම බෞද්ධයන් විසින් ධන සැපැයිය යුතු අයුරු හා වියදම් කටයුතු අයුරු ද ගිහි ගෙදර වාසය කටයුතු ආකාරය ආදිය ද ඉතා සැකෙවින් සඳහන් කරනු ලැබේ.

## III

## හොඳ පුරුෂයා හා හොඳ ස්ත්‍රිය

චාතුම්මහාරාජිකය තාවතිංසය යන දෙදෙව් ලොවට අධිපති ශක්‍රදෙවේන්ද්‍රයා නිතර ම උයන් සිරි දකිනු සඳහා යයි. එ සේ ම එහි යැමට පිටත් වන්නට පෙර සියලු දිශාවන් වැඳීම ද සිරිත ය. දිනක් එ සේ වඳිනු දුටු මාතලී දිව්‍ය පුත්‍රයා, "දෙවෙන්ද්‍රය, වෙදත්‍රය හදාරන්නා වූ සියලු මනුෂ්‍යයෝ ද, ක්‍ෂත්‍රියයෝ ද, සතර වරම් මහරජහු ද, අනෙකුත් දෙව්යෝ ද ඔබ වහන්සේ වඳිති. මේ ඔබ වහන්සේ වඳින්නේ කවරකුට දැ?' යි ඇසී ය. එ විට ශක්‍ර දෙවෙන්ද්‍රයා තමන් වඳින පිරිස සඳහන් කෙරෙමින් මෙ සේ කී ය.

යෙ ගහට්ඨා පුඤ්ඤකරා - සීලවන්තො උපාසකා
ධම්මෙන දාරං පොසෙන්ති - තෙ නමස්සාමි මාතලි
(සංයුත්ත - සක්කනමස්සන සූත්‍රය)

1. පින් කරන්නා වූ, 2. සිල්වත් වූ, 3. උපාසක ගුණයන්හි පිහිටියා වූ, 4. දැහැමින් අඹුදරුවන් රකින්නා වූ යම් ගිහි කෙනෙක් වෙත් ද මාතලිය, මම ඔවුන් වඳිමි යි යන මේ

ශක්‍රදෙවෙන්ද්‍රයා ගේ කියමනෙන් ගුණ නුවණින් යුතු ව ගිහිගෙයි වාසය කරන්නා වූ හොඳ පුරුෂයා හට ශක්‍රාදි දෙවියන් පවා වඳින බව මැනැවින් පැහැදිලි වේ. මෙහි සඳහන් වූ සතර ගුණය බෞද්ධ වූ කවර ගිහියකුට වුව ද ඇති කැර ගැනීම අපහසු නො වේ.

1. **පින් නම්:** සිත කිලිටි කරන්නා වූ රාගාදීනට ප්‍රතිපක්ෂ වූ ප්‍රඥාදි ශොභන ධර්මයන් හා එක් ව යෙදුණා වූ උපනුපන් තන්හි ඉෂ්ට විපාක ගෙන දෙන ස්වභාවය ඇති චෙතනාවෝ (=සිතිවිලි) යි. මෙ කී පින්, දාන - ශීල - භාවනා වශයෙන් තුන් වැදෑරුම් කොට ද , දාන ය - ශීල ය - භාවනා ය - පින් දීම ය - පින් අනුමොදන් වීම ය - වතාවත් කිරීම ය - වැඩි හිටියන් පිදීම ය - බණ දෙසීම ය - බණ ඇසීම ය - දෘෂ්ටිය ඍජු කිරීම ය යි දස වැදෑරුම් ලෙස ද,ඇතැම් ආචාර්යවරු,

   1 දන් 2 සිල් 3 භාවනා
   4. පින් දෙනු 5 අනුමෝදනා
   6 බණ'සනු 7 දේසනා
   8. පිදිය යුත්තන් පුදනු සමනා
   9. කරනු ද වතාවත්
   10. පින්කරු ගුණ වැනීමත්
   11. සරණ 12 සිහි වීමත්
   දොළොස් පින් දැන කවර යහපත්
   (කාව්‍යශේඛරය)

   යනුයෙන් දොළොස් වැදෑරුම් කොට ද දැන්වූහ.

2. **සිල්වත් බව නම්:** පඤ්ච දුශ්චරිතයන් ගෙන් මිදීම හා සතුන් මැරීම සොරකම් කිරීම - කාමයෙහි වරදවා හැසිරීම - බොරු කීම - කේලාම් කීම - රළු බස් බිණීම - හිස් වදන් දෙඩීම - වැරැදි ජීවිකාව යන මෙයින් වැළැකෙන ආජීවාෂ්ටමක ශීලයෙන් යුක්ත වීම යි. කාමයෙහි වරදවා හැසිරීමෙහි මද්‍යපානය ද ඇතුළත් වේ.

3. **උපාසකයා නම්: "බුද්ධං සරණං ගතො හොති - ධම්මං සරණං ගතො හොති - සඞ්ඝං සරණං ගතො හොති, එත්තාවතා ඛො මහානාම උපාසකො හොති"** යි මහානාම සූත්‍රයෙහි වදාළ පරිදි බුදුන් දහම් සඟුන් සරණ ගිය තැනැත් තේ ය. **ශ්‍රද්ධා - ශීල - ශ්‍රැත - ත්‍යාගාදී** ගුණයන්හි පිහිටීම නියම උපාසක ලක්ෂණය වේ.

4. **දැහැමි අඹු දරු පෝෂණය නම්:** දැහැමින් සපයා ගත් වස්තුවෙන් කටයුතු සංග්‍රහ ඒ ඒ අවස්ථාවෙහි දී නො පිරිහෙළා කෙරෙමින් සැප පහසු ද සලසා දෙමින් පිනට දහමට ද මඟ යොදා දෙමින් භාර්යාව කෙරෙහි හොඳ පියකු - සොහොයුරකු - යහළුවකු මෙන් පවතිමින් සතර සංග්‍රහ වස්තුවෙන් ද සංග්‍රහ කෙරෙමින් භාර්‍ය්‍යාව දූ පුතුන් පෝෂණය කිරීම යි.

මෙ කී ගුණ ඇති තැනැත්තාට දෙවියන් ගෙන් පවා වැඳුම් ලැබෙනුවා පමණක් නො ව, තමන් ගේ අඹුදරුවන් සමඟ ප්‍රේමයෙන් හා සමඟියෙනුත් සුවයෙන් හා සතුටුනුත් වාසය කරන්නට හැකි වෙයි. ඒ නිසා ම සැම පුරුෂයකු විසින් ම මෙ කී ගුණ තමන් තුළ ඇති කැර ගන්නටත් වැඩිදියුණු කැර ගන්නටත් උත්සාහ දැරිය යුතු ය.

ඉතා පුරාණයෙහි සුරුචි නම් රජ කෙනෙක් වූහ. එතුමා ගේ අගමෙහෙසිය ඉතා සිල්වත් ය, ගුණවත් ය. මේ බව දත් ශක්‍රදෙවෙන්ද්‍රයා මෙහෙසිය ගේ ගුණ ලොවට ද ප්‍රකට කොට ගුණදහම් පිරීමෙහි ලෝකයා ද උනන්දු කරවනු සඳහා මිනිස් ලොවට එන්නට සිතා ගති.

දිනක් සුරුචි රජහු ගේ බිසවුන් උයනෙහි සිටින විට ශක්‍රදෙවෙන්ද්‍රයා ඍෂියකු ගේ වේශයෙන් එ තැනට පැමිණ කථා කෙරෙමින් සිට, දේවිය විසින් 'ඔබ කවරෙක් දැ' යි අසන ලදු ව තමන් ශක්‍රදෙවෙන්ද්‍රයා බව සඳහන් කොට මෙ සේ ද කී ය:

ඉත්ථියො ජීව ලොකස්මිං - යා හොන්ති සමචාරිණී
මෙධාවිනී සීලවතී - සස්සුදෙවා පතිබ්බතා
තාදිසාය සුමෙධාය - සුචිකම්මාය නාරියා
දෙවා දස්සනමායන්ති - මානුසියා අමානුසා

(සුරුචි ජාතකය)

1 සම ව හැසිරෙන්නා වූ, 2 නුවණැත්තා වූ, 3 සිල්වත් වූ, 4 නැන්දා හා මාමා දෙවියන් කොට සලකන්නා වූ, 5 පතිව්‍රතා ධර්මයෙන් යුක්ත වූ, යම් ස්ත්‍රීහු මේ ලෝකයෙහි වෙත් ද මනා නුවණැති පිරිසිදු ක්‍රියා ඇති මනුෂ්‍ය වූ එ බඳු ස්ත්‍රීන් දැකීමට මනුෂ්‍ය නො වූ දෙවියෝ ද පැමිණෙති.

ගුණ නුවණැති හොඳ භාර්යාවන් දැකීමට දෙවියන් කැමති බවත්, අපේ ඇසට නො පෙනුණත් එ බඳු ගුණවත් ස්ත්‍රීන් දැකීමට - ගරු කිරීමට ශක්‍රාදි දෙවියන් පවා පැමිණෙන බවත් මෙයින් මැනැවින් පැහැදිලි වේ. යටැ කී පස් ගුණය බෞද්ධ වූ හැම ස්ත්‍රියක විසින් ම පිරිය හැකි, පිරිය යුතු ගුණයෝ වෙති.

1. **සම ව හැසිරීම නම්:** මනා - යහපත් - හැසිරීම යි. සම පැවැත්ම ය, විෂම පැවැත්ම යැ යි මෙ ලොව මිනිසුන් ගේ පැවැතුම් දෙකකි. ඉන් සම පැවැත්ම නම් තමන් ගේ කථාවෙන් හා ක්‍රියාවෙන් හා ලෝකයාට කරදර හිරිහැර නොවන සේ හැසිරීම යි. විෂම පැවැත්ම නම් තමන් ගේ කථා සහ ක්‍රියා ලෝකයාට කරදර හිංසා පීඩා වන සේ පැවැත්වීම යි. මෙය මෙ තැන දී හොඳ ස්ත්‍රියක ගේ ගුණයක් ලෙස සඳහන් වුව ද ගිහි පැවිදි ස්ත්‍රී පුරුෂ කාටත් සාධාරණ වූ ගුණයෙකි. යමකු තමන් ගේ කථා සහ ක්‍රියා අන්‍යයනට කරදර නොවන සේ පවත්වනුවා නම් එය ජන සමාජයට කරන ලොකු සේවයෙකි. සුචරිතයෙක පිහිටීම නිසා තමනට කුසල් ද රැස් වෙයි.

2. **නැණවත් බව** ද පුරුෂ පක්‍ෂයට මෙන් ස්ත්‍රී පක්‍ෂයට ද තිබිය යුතු ය. එ සේ ම නිවැරැදි ශිල්පශාස්ත්‍ර විෂයයෙහි උගත්කම ද බහුශ්‍රැතභාවය ද තිබිය යුතු ම ය.

    ‘අප්පස්සුතා’යං පුරිසො
    බලිවද්දො’ව ජීරති
    මංසානි තස්ස වඩ්ඪන්ති
    පඤ්ඤා තස්ස න වඩ්ඪති

    (ධම්මපදය)

    ‘ඇසුපිරූ තැන් නැතියෙ
    ගොනකු මෙන් ජරපත් වේ
    ඔහු ඇඟ මස් මතු වැඩේ
    නුවණෙක් නම් නො ම වැඩේ’

    බහුශ්‍රැත භාවය පමණක් නො ව නුවණ ද තිබිය යුතු ය. i **ආයකෞශල්‍යඥානය** = දියුණුවෙහි දක්‍ෂ නුවණ හෙවත් මේ මේ දේ කිරීමෙන්, මෙ සේ හැසිරීමෙන් දෙලොව දියුණුව සැලැසේ යි දන්නා නුවණ ය, ii **අපායකෞශල්‍යඥානය** = පිරිහීම පිළිබඳ දක්‍ෂ නුවණ හෙවත් මේ මේ දේ කිරීමෙන්, මෙ සේ හැසිරීමෙන් දෙලොවින් ම පිරිහීම සැලැසේ යි දන්නා නුවණ ය, iii **උපායකෞශල්‍යඥානය** = ස්ථානොචිත ප්‍රඥාව ය යන මේ ඥානයන් ගෙන් ද යුක්ත විය යුතු ය.

3. **සිල්වත් බව නම්:** හොඳ පුරුෂයා ගේ ගුණ කී තැනැ ප්‍රකාශ වූ පරිදි පඤ්ච දුශ්චරිතයන් ගෙන් වැළැකීම හා ආජීවාෂ්ටමක ශීලයෙන් සම්පූර්ණ වීම යි.

4. **නැන්දා හා මාමා දෙවියන් කොට සැලැකීම:** ආවාහ විවාහයෙන් ලැබෙන නැන්දාට පාළියෙන් ‘සස්සු’ යනු ද සකුයෙන් ‘ස්වශ්‍රෑ’ යනු ද මාමාට ‘සසුර’ ‘ශ්වශුර’ යනු ද ව්‍යවහාර වේ. එ කී නැන්දා සහ මාමා දෙවියන් කොට සැලැකීම ද හොඳ භාර්‍ය්‍යාවක ගේ ගුණය වේ.

5. පතිව්‍රතා ධර්මය නම්: ස්වපුරුෂ සන්තුෂ්ටියෙන් යුක්ත ව තම හිමියා දෙවියකු ලෙස සලකමින් සිතින් වත් තම ස්වාමි පුරුෂයා ඉක්මවා නොසිතන, සිහිනෙන් වත් අන් පුරුෂයන් නොපතන උතුම් ගුණය යි.

ලෝකයා ගේ සැලැකීම නා නා හේතූන් නිසා වෙයි. ඇතැම්හු කුලයට ද ඇතැම්හු ධනයට ද ඇතැම්හු උගත් කමට ද ඇතැම්හු ගුණවත් කමට ද සලකති. මින් කුලයට සැලැකීම දැන් ලොව නැතැ යි කිව යුතු තරමට අඩු වී ගොස් තිබේ. කෙනකු උසස් වන්නේ කුලයෙන් නො ව ක්‍රියාවෙන් බව බුදුරජාණන් වහන්සේ ද වදාළහ.

ලෝකයා අතර ධනවතාට සැලැකීමක් ඇතත් එය තාවකාලික ය. ගනුදෙනු කරන අවස්ථාවෙහි දී ඉදිරියෙහි දී පමණක් ලැබෙන ඒ සැලැකීම පිටත දී නො ලැබෙයි. ධනවතාට පිටත දී බොහෝ සෙයින් ලැබෙනුයේ නින්දා අපහාස ආදිය යි.

උගතාට දක්වන සැලැකිල්ල ධනවතාට දක්වන සැලැකිල්ලට වඩා ස්ථිර ය. උගතා ගේ අගය දන්නෝ ද උගත්තු ම ය. උගත්තු ලොව සුලබ නො වෙති. එ හෙයින් උගතාට සලකන පිරිස සඞ්ඛ්‍යා වශයෙන් ටික ය. එහෙත් එය බොහෝ දුරට ම ස්ථිර ය. ඉදිරියේ මෙන් පිටත දී ද ඔහුට සැලැකිලි ලැබේ.

ගුණවතාට සැලැකීම හැමදා ම එක සේ ම සිදු වෙයි. බොහෝ විට කල් යත් යත් සැලැකීම අධික ද වෙයි. පසුගිය කාලයෙහි සැරියුත් - මුගලන් දෙදෙනා වහන්සේ ගේ ධාතූන් හට දැක්වූ සැලැකිල්ලෙන් එය මැනැවින් පැහැදිලි වෙයි. ධාතූන් ය යි මහජනයා වැන්දේ පිදුවේ උන් වහන්සේලා ගේ ශරීරය දැවූ ස්ථානයෙන් ගත් දිරාගිය ඇට කැබලි වලට ය. සොහොන් බිම්හි දී ඊට වඩා ලොකු නොදිරුණු ඇට කැබැලි දක්නට ලැබෙතුදු ඒවා වඳින්නට තබා පයින් ස්පර්ශ කරන්නට වත් කිසිවෙක් කැමැති නො වේ. එහෙත් යටැ කී ධාතූන් වහන්සේලාට විසිපන්ලක්‍ෂයකටත් අධික ජනකායක් වැන්දහ, පිදුවහ. මේ වැඳීම කෙළේ උන් වහන්සේලා ගේ කුලවත්කමට ද? ධනවත්කමටද? නැතහොත් උගත් කමට ද? නැත. ගුණවත් කමට ම ය. මෙ සේ උගත් - නූගත් - දුප්පත් - පොහොසත් - උසස් ය යි සම්මත කවුරුන් වුව ද හැම දෙනා විසින් ම හැම තැන දී හැම විට ම එක සේ වඳිනු ලැබෙන්නේ පුදනු ලැබෙන්නේ ගුණවත්කම නිසා ම ය. එ හෙයින් හැම දියුණුවට ම වඩා ගුණදහමින් දියුණුව උසස් බව සැලැකිය යුතු ය.

බුද්ධ ධර්මය ගැන නියම තතු නොදන්නාහු බුද්ධාගමයෙහි උගන්වන්නේ මරණින් මතු ලබන සුගතිමාර්ගය පමණක් ය යි සිතති. එය මහ මුළාවෙකි. බුද්ධධර්මයෙහි මරණින් මතු ලබන සුගතිමාර්ගයත්, සසර සියලු දුක් ගෙවා ලබන මොක්‍ෂ මාර්ගයත් හරිහැටි ප්‍රකාශ කොට ඇත්තාක් මෙන් ම මනුෂ්‍යයකු ගේ මෙ ලොව යහපතට හේතුවන හැම කරුණක් ද ප්‍රකාශ වෙයි. බොහෝ දෙනා ඉතා සුළු කොට සලකන ගේ දොර පිරිසිදු කිරීම, වැසිකිළි කිස කිරීම ආදි දේ පවා වැදගත් මහත්මයකු ලෙස නිවැරැදි ලෙස කරන අයුරු මැනැවින් විස්තර කොට ඇත්තේ ය. මෙ සේ මහාජනයා සදාචාරසම්පන්න කරනු සඳහා බුදුරජාණන් වහන්සේ දෙශනා කළ ආචාර නීති සමූහය අති විශාල ය.

බෞද්ධයන් ගේ උසස් ම බලාපොරොත්තුව වන නිවන් සුව ලබනා සැටිත් ඉතා සාමාන්‍ය දේ හැටියට සැලැකෙන කන බොන යන එන සැටිත් හොඳින් විස්තර වී ඇත්තේ නම් මෙදැතුරෙහි වූ සව්සතුන් ගේ යහපතට හේතු වන අන් කරුණු ගැන කවර කතා ද?

## IV

## මවුපියෝ

තම දරුවන් අයහපතින් මුදා යහපතෙහි යොදා ආරක්‍ෂා කොට ප්‍රේමයෙන් හදා වඩන්නෝ මවුපියෝ නම් වෙති.

බ්‍රහ්මාති මාතාපිතරො - පුබ්බාචරියාති වුච්චරෙ
ආහුණෙය්‍යා ච පුත්තානං - පජාය අනුකම්පකා

(අඞ්ගුත්තර - තික නිපාත)

මවුපියෝ බ්‍රහ්මයෝ ය, ශ්‍රෙෂ්ඨයෝ ය, මුල් ගුරුවරයෝ ය, දරුවන් විසින් ගෞරවයෙන් පිදිය යුත්තෝ ය, දරුවන් කෙරෙහි අනුකම්පා කරන්නෝ ය යි කියනු ලැබෙති.

බ්‍රහ්මයා සියලු සත්ත්වයන් කෙරෙහි මෛත්‍රී ය - කරුණා ය - මුදිතා ය - උපෙක්ෂා ය යන උතුම් පැවැතුම් සතරෙන් යුතු ව වාසය කරයි. මවු පියෝ ද මේ සතර ගුණයෙන් යුක්ත හෙයින් බ්‍රහ්මයෝ = ශ්‍රෙෂ්ඨයෝ වෙති.

මවුකුස වන් පුත්‍රයා නිදුක් නීරෝග ව කවරදා දකිමුදෝ යි නිතර ම මෙත් සිත පතුරුවති. දරුවනට ස්වල්ප වූ ද දුකක් කරදරයක් ඇති වූ විට මවුපියන් ගේ ළය කම්පා වෙයි. ඒ දුකින් මුදවන කරුණා සිත පහළ වෙයි. මවුපියෝ වුව ද අන්‍යයන් ගේ දියුණුව කැමැත්තෝ ම නො වෙති. ඊර්ෂ්‍යා නොකරන්නෝ ද නො වෙති. එහෙත් තම දරුවන් ගේ දියුණුවෙහි නම් ඊර්ෂ්‍යා නො කෙරෙති. තව තවත් දියුණු වේ වා යි මුදු සිතින් ම බලති, පතති. එ හෙයින් මවුපියන් තුළ දරුවන් කෙරෙහි මුදිතා ගුණය ද නොඅඩු ව ම පවතී. මවුපියෝ තම දරුවන් ආවාහ විවාහාදියෙන් බැහැරට ගිය ද මුළුවනින් ම ඔවුන් අත් නො හැර උපෙක්ෂක ව = මධ්‍යස්ථ ව සැප දුක් සොයා බලති. මෙ කී ගුණ සතර නිසා = ශ්‍රෙෂ්ඨ පැවැතුම් සතර නිසා මවුපියෝ බ්‍රහ්ම නමුදු වෙති.

කෙනකුට ආචාර්යවරයෝ බොහෝ දෙනෙක් වෙති. ඉන් හැමට පළමු ආචාර්යවරයෝ නම් දෙමවුපියෝ ය. ශිල්ප ශාස්ත්‍රාචාර්යවරු කලින් කල වරින් වර වෙනස් වෙති. එහෙත් පූර්වාචාර්යවරයෝ මරණින් විනා අතරෙහි නම් වෙනස් නො වෙති. ශිල්පශාස්ත්‍රාචාර්යයන් ගේ ඉගැන්වීම් නැති ව ද ලොව සිටිය හැකි වුවත් පූර්වාචාර්යයන් ගේ ඉගැන්වීම් කොටස නැති ව නම් ලොව ශිෂ්ට මනුෂ්‍යයකු ලෙස වාසය කළ නොහැකි ය. එ හෙයින් සැම දෙනා විසින් ම අවශ්‍යයෙන් ම දත යුතු යන - එන - කන - බොන - කතා කරන සැටි ආදිය ඉගැන්වෙන්නේ පූර්වාචාර්ය වූ මවුපියන් විසින් ම ය.

මවුපියෝ පිදිය යුත්තෝ ද වෙති. ආහුණෙය්‍යා යන්න බුදුරජාණන් වහන්සේ විසින් රහත් ගුණයක් ලෙස ද යොදන ලද ගුණ පදයෙකි.

සැදැහැවතුන් ගේ පින් නමැති බිත්තර වැපිරීමට ඉතා වටිනා පින් කුඹුරු හතරක් ඇති බව බුදුරජාණන් වහන්සේ වදාළහ. **1. බුදුරජාණන් වහන්සේ, 2. රහතන් වහන්සේ, 3. මෑණියන් වහන්සේ, 4. පියාණන් වහන්සේ** යනු යි. මවුපියනට උපස්ථාන කිරීම බුදුරජුනට රහත් උතුමනට කරන උපස්ථානයක් හා සමාන ම පින්කමක් බව මැනැවින් පැහැදිලි වේ.

මවුපියෝ දරුවන් කෙරෙහි අනුකම්පා කරන්නෝ ද වෙති. දරුවන් කෙරෙහි මවුපියන් තුළ ඇති කරුණාව දයාව නො කිය හැකි තරම් ය. දරුවන් ගේ යහපත සඳහා තම ජීවිතය වුව ද පුදන්නට කැමැති වෙති.

සීවලී මහරහතන් වහන්සේ ගේ මෑණියන් වන **සුප්පාවාසා** දරුවා කුසින් දරමින් සත්වසකටත් වැඩි කාලයක් දුක් වින්ද බව සඳහන් වෙයි. දිනක් බුදුරජාණන් වහන්සේ සුප්පාවාසා අමතා, "කෙසේ ද ඔබඳු දුකක් විඳ තවත් දරුවන් ලබන්නට කැමැති දැ" යි ඇසූහ. එ විට සුප්පාවාසා, "අනේ ස්වාමීනි! මෙහෙම දුක් විඳ එක දරුවකු නො ව දරුවන් සත් දෙනකු වුවත් ලබන්නට කැමැති" යි ප්‍රකාශ කළා ය. මේ එක කරුණෙන් ම මවුවරුන් දරුවන් කෙරෙහි කොපමණ ප්‍රේම කරනවා දැයි පැහැදිලි වේ. දරුවන් කෙරෙහි පියවරුන් තුළ ඇති කරුණාව කොපමණ ද යන්න බිම්බිසාර රජු ගේ කතා පුවතින් පැහැදිලි වේ.

## හොඳ මවුපියන් ගේ බලාපොරොත්තුව

අතිජාතං අනුජාතං - පුත්තමිච්ඡන්ති පණ්ඩිතා
අවජාතං න ඉච්ඡන්ති - සො හොති කුලගන්ධනො

(ඉතිවුත්තකය)

මෙ ලොව හා පරලොව ද දියුණුව බලාපොරොත්තු වන පණ්ඩිත මවුපියෝ, දරුවන් වශයෙන් තමනට වඩා ගුණ නුවණැති අතිජාත පුත්‍රයා ද, තමන් හා සම වූ ගුණ නුවණැති අනුජාත පුත්‍රයා ද කැමැති වෙති. කුලය - පරපුර වනසන්නා වූ, තමනට වඩා අඩු ගුණ නුවණැති අවජාත පුත්‍රයා නම් කැමැති නො වෙති.

මෙ සේ උසස් බලාපොරොත්තුවක් නැති ව කවර ආකාරයෙක හෝ දරුවන් ලැබීම පමණක් කැමැති වන මවුපියෝ නිර්ගුණයෝ ය. රටට - ජාතියට හා ආගමට අහිතයෝ ය. එ බඳු මව දරුවනට හා ජන සමාජයට හැතිරියක මෙන් ද, පියා හතුරකු මෙන් ද උගත් ලෝවැස්සෝ සලකති.

නියම මවුපියන් වන්නට බලාපොරොත්තු වන්නවුන් විසින් කල් ඇති ව ම, ආවාහ විවාහ වන විට ම තමන් බැඳෙන බැරෑරුම් කටයුත්ත ගැන, කල්පාන්තය තෙක් පවත්නා පරපුරෙක ආදිකර්තෘන් වීමේ වග කීම ගැන හොඳින් සිතා බැලිය යුතු ය. මෙ කල මෙ බඳු උදාර හැඟීමකින් යුතු ව මවුපියන් වන්නෝ ඉතා දුලබ වෙති. ඉන්ද්‍රියයන් පිණවීම ම පරමාර්ථ කැර ගෙන ආවාහ විවාහ වන්නවුන් බහුල වීමෙන් ජනගහනය වැඩි වෙතත්, රටට - ජාතියට - ආගමට වැඩ ඇති දරුවන් වැඩි වන බවක් නො පෙනේ.

## මවුපියන් ගේ නියම සේවය

ගුණ නුවණැති දරුවන් තැනීමට වඩා මහාජන සේවයක්, රටට - ජාතියට හා ආගමට කරන හිතවත් බවක් තවත් නැතැයි මවුපියන් විසින් නිතර සිහියේ තබාගත යුතු ය. දරුවන් තැනීම මවුපියන් කරනුවා විනා සේවයකයන් ලවා කරන්නක් නොවන බව ද මතක තබා ගත යුතු ය. නිසි ලෙස දරුවන් තැනීමේ කාරිය පසෙක තබා නම ප්‍රසිද්ධ කර ගැනීමේ අදහසින් හෝ වෙනත් නොමනා පුහු අදහසින් හෝ මහ රැස්වීම් තබා පුහු ඝෝෂා කිරීමෙන් නම් කිසි විටෙකත් රටට ජාතියට හා ආගමට උපකාරයක් සිදු නොවන්නේ ම ය. එ පමණක් නො ව සමාජය දූෂණය වීමට ද හේතු වන බව දස දෙසින් ලැබෙන වාර්තාවලින් පැහැදිලි වේ.

## මවුපියන් ගේ යුතුකම්

යුතුකම් නම් කරන්නට බැඳුණු ක්‍රියා යි. නො කර ම බැරි ක්‍රියා යි. මවුපියන් විසින් දරුවන් කෙරෙහි පැවැත්විය යුතු යුතුකම් මහා රාශියක් වුවත්, ඒ සියල්ල ම මෙහි විස්තර කරන්නට නො ගොස්, බුදුරජාණන් වහන්සේ ගිහි විනයේ දී වදාළ යුතුකම් පහ පමණක් සඳහන් කරනු ලැබේ.

**"පාපා නිවාරෙන්ති, කල්‍යාණෙ නිවෙසෙන්ති"** යි වදාළ පරිදි දරුවන් පවින් - අයහපතින් මුදවා, යහපතෙහි යෙදවීම මවුපියන් ගේ මුල් ම යුතුකම වේ. දරුවකු මවු කුසේ පිළිසිඳ ගත් දා පටන් ම මේ කටයුත්තෙහි යෙදිය යුතු ය. මව ගේ ශරීරය - ආහාරය අනුව දරුවාගේ කය වැඩෙන්නාක් මෙන්, මව ගේ අදහස් අනුව දරුවා ගේ ද අදහස් වැඩේ. එ හෙයින් හොඳ වීම හෝ නරක වීම හෝ පිළිබඳ ප්‍රධාන වගකිය යුත්තා මව ය. පියා ද මව ගේ ශරීර වර්ධනයට පොෂ්‍යාහාර සපයා දෙන්නාක් මෙන්, හොඳ අදහස් වැඩි දියුණු වනු සඳහා මව ගේ හිත නරක් නොවන සේ නිතර ම ගුණ නුවණින් යුතු ව වාසය කළ යුතු ය.

ශ්‍රද්ධාවත් **බොධිරාජ කුමාර** මාතාවෝ තම කුසෙහි දරුවකු පිළිසිඳ ගත් බව දත් කෙණෙහි බුදුරජාණන් වහන්සේ වෙතට ගොස් වැඳ, **"යො මෙ අයං භන්තෙ කුච්ඡිගතො කුමාරකො වා කුමාරිකා වා සො භගවන්තං සරණං ගච්ඡති ධම්මං ච භික්ඛු සංඝං ච"** යන ආදීන් "ස්වාමීනි, මාගේ කුසෙහි කුමරෙක් හෝ වේවා කුමරියක් හෝ වේවා ඔහු හෝ ඇය හෝ බුදුන්, දහම්, සඟුන් සරණ යයි කියා කුස හොත් කල ම දරුවා තෙරුවන් සරණගත කළහ. එයින් තෙරුවන් බෙලෙන් දරුවා ආරක්ෂා වෙනුවා පමණක් නොව, අනාගතයෙහි උදාර පුරුෂයකු වීමට ද ආධාර වන්නේ ය.

දරුවා උපන් පසු ද ආදර්ශයෙන් හා උපදෙශයෙන් ද, අයහපතින් මුදා යහපතෙහි යෙදවිය යුතු ය. කුඩා දරුවන් ගේ සිරිත ආදර්ශ ගැනීම ය, දුටු දේ අනුව කිරීම හා ඇසූ දේ අනුව කීම ය. එ හෙයින් මවුපියෝ ඉතා කල්පනාවෙන් කතා කළ යුතු ය, ක්‍රියා කළ යුතු ය. යම් කිසි මවක් දරුවා කුසේ සිටින කාලයේ රාග, දොෂ, මොහාදිය බහුල ව වාසය කළා නම් දරුවා ද, සහජයෙන් ම රාග, දොෂ මොහාදිය බහුලයෙක් වන්නේ ය, එ සේ ම මව හොඳ අදහස්වලින් යුතු ව වාසය කළා නම් දරුවා ද උදාර අදහස් ඇත්තෙක් වන්නේ ය. උපන් පසු ද මවුපියෝ නිතර කලකෝලාහල අසමගිකම්වලින් යුක්ත ව වෙසෙත් නම් දරුවා ද එ බඳු ම වෙයි. යම් කිසි මවුපිය කෙනෙක් යහපත් පැවැත්මෙන් හා කතාවෙන් ද, ශ්‍රද්ධා ශීලාදි ගුණයන් ගෙන් ද යුතු ව වාසය කෙරෙත් නම් ඔවුන් නිසා ඇති වන දරුවෝ ද රටට - ජාතියට හා ආගමට වැඩ ඇත්තෝ ම වෙති. දරුවනට නම් තබන විට ද මෙ තෙක් කල් බොහෝ දෙනා උසස් කොට සැලැකූ යුරෝපීය නම් අත් හැර අපේ ශිෂ්ටාචාරය අනුව **ආරිය සිංහල නමක්** ම තබන්නට සිතට ගන්නේ නම් මැනැවි.

**ඇතැම් මවුපියෝ තමන් මත්පැන් බොමින් - දුම් පානය කෙරෙමින් - සූදුවෙහි යෙදෙමින් - චිත්‍රපටි දර්ශනයෙහි ලොල් වෙමින් දූ දරුවන් ඒ දෙයින් මුදවන්නට උත්සහා දරති. එ සේ ම**

**තමන් සිල් නො රකිමින් - දවසකට වරක් වත් බුදුන් නො වඳිමින් - ගුණ දහම් නො පුරමින් දරුවන් ලවා ඒ සියල්ල කරවන්නට වෑයම් කෙරෙති. එහෙත් එය නම් නො කට හැක්කක් බව පැහැදිලි ව ම පෙනේ.** තමන් මත්පැන් පීම් ආදි දුසිරිත්හි නො යෙදෙතොත් දරුවෝ ද එ බඳු ම වෙති. ඉදින්, නරක ආශ්‍රයෙන් එ බඳු දුසිරිතක යෙදුණත් එයින් දරුවා මුදවා ගැනීම සඳහා අවවාද කිරීමට පිළිවන්කම ලැබෙයි. බොහෝ දෙමවුපියනට දරුවන් අයහපතින් මුදා ගන්නට බැරි වන්නේ තමන් තුළ පවත්නා දුසිරිත් නිසා ම ය. යම් කිසි මවුපිය කෙනකුන් තමන් දවසකට වරක් වත් බුදුන් වැඳීම් ආදි යහපතෙහි යෙදෙතොත් ඔවුනට දරුවන් ඒ මඟෙහි යෙදවීමට විශෙෂ උත්සාහයක් ගන්නට උවමනා නැත. එ හෙයින් **තම දරුවන් හොඳින් හදා වඩා ගන්නට කැමැති වන මවුපියන් විසින් පළමු ව හොඳ ආදර්ශයෙන් හා දෙවනු ව උපදෙශයෙන් ද පූර්වාචාර්යයන් විය යුතු ය.**

සුදුසු කාලයෙහි ශිල්පශාස්ත්‍රයන් ඉගැන්වීම ද මවුපියන් ගේ යුතු කමෙකි.

දෙගුරුන් විසින් තම - දරුවනට දෙන නොමඳ දන නම්
වියතුන් සබා මැද - ඉන්ට ඉදිරි ව සිල්ප දෙනු මැ යි.

(ලෝකෝපකාරය)

අකුරු උගන්වන විට ද ආගම පෙරදැරි ව ම කට යුතු ය. ආගම දැනුමෙන් තොර උගත්කම තමනට හා ලොකයට අනර්ථ පිණිස පවතින හෙයිනි. ටික කලකට පෙර ලක්දිවට පැමිණි භාරත පුත්‍ර ඒ. එස්. ආර්. රාසචාචාර්ය තුමා කී වටිනා කීම බෞද්ධ මවුපියන් නිතර ම සිහියේ තබා ගත යුතු ය. **"ශ්‍රී ලංකාවාසී දෙමවුපියවරුනි, යුෂ්මතුන්ලා ගේ දරුවන් ශීලයෙන් පිරිහී උතුම් බුද්ධාගම අත්හැර මේ ලෝකයෙහි රජ වුවත් වැඩක් නැත"** යන අවවාදය ඉතා වටනේ ම ය.

භාෂාශාස්ත්‍ර උගන්වන විට ද පළමු ව ස්වභාෂාව ද, දෙවනු ව උපයොග = රක්‍ෂාවට උවමනා කරන (මෙ කල නම් ඉංගිලිසි) භාෂාව ද ඉගැන් විය යුතු ය. පිළිවන්කම ඇතොත් සාමන්ත භාෂා ද = තමනට අවට සිටින වුන් ගේ (සිංහලය නම් දෙමළ හා හින්දි) භාෂා ද, ඉන් වැඩිය හැකි නම් ඥාතිභාෂා ද = සිංහල භාෂාවට නෑහුරුකම් ඇති පාලි - සංස්කෘත ආදි භාෂා ද, ඉනුත් වැඩිය හැකි නම් භාෂාන්තර ද ඉගැන්විය යුතු ය.

**කවර භාෂාවක් ඉගෙන ගත්තත් තමන් සිංහල බව නිතර ම සිත තබා ගත යුතු ය. එ සේ වන්නට නම් තම ආචාර ධර්මයනට පටහැනි නොවන ලෙස ම හැම උගැන්මක් ම කට යුතු ය. මෙ කල ඉංගිලිසි ඉගෙන ගන්නවුන් බොහෝ දෙනෙකුන් වැනැසෙන්නේ තමන් සිංහල බව අමතක කොට සංකර වෙස් ගන්නට යෑමෙනි.** ඒ නිසා මවුපියන් ගේ යුතුකම මුල සිට ම නිසි විදියට පැවැත්විය යුතු ය.

සුදුසු කාලය පැමිණි විට දරුවනට ආවාහ විවාහ කර දීම ද මවුපියන් ගේ යුතුකමකි. පෙරදිග චාරිත්‍රානුකූල ව සුදුසු ස්වාමිපුරුෂයන් හෝ භාර්යාවන් හෝ සොයා දීම මවුපියන් විසින් කට යුතු ය. ස්වයංවරය හෙවත් තමන් ම සුදුස්සා තෝරා ගැනීමක් ද ස්වල්ප වශයෙන් පැවැත්තේ ය. එහෙත් එය දෙමවුපියන් විසින් පමුණුවා දෙන සුදුස්සන් ගෙන් කෙනකු තෝරා ගැනීම මිස මෙ කල බහුල වේගෙන යන හිතුවක්කාර බන්ධන නො වේ. ඉන්ද්‍රිය දමනයක් නැති රාගයෙන් මත් වූ තරුණයකුට හෝ තරුණියකට හෝ තමනට සුදුසු භාර්යාව හෝ ස්වාමියා හෝ සොයා ගැනීම පහසු නො වේ. එ හෙයින් ම මෙ කල බහුල වේගන එන හිතුවක්කාර බන්ධන වැඩි කල් නො යවා හිතුවක්කාර ම වී යයි. පෙර අප රට නොතිබුණු දික්කසාද (මෙය සිංහල වචනයක් නම් කොට කසාද විය යුතු ය.) වැඩි වීමේ ප්‍රධාන හේතුවත් එය ම ය. සිංහල බෞද්ධ ශිෂ්ටාචාරය අනුව ආවාහ විවාහ බන්ධන මරණයෙන් විනා අන් ලෙසකින් අතර මඟ දී කැඩිය හැක්කක් නො වේ. එ හෙයින් දරුවනට ආවාහ විවාහ කර දෙන මවුපියන් විසින් වස්තුව පමණක් ම නො බලා ඔවුනට ජීවිතාන්තය තෙක් යහතින් සිටිය හැකි වන පරිදි ඔවුනොවුනට සම වන වයස, ගති සිරිත්, ගුණ නුවණ හා අදහස් ද ඉතා සැලැකිල්ලෙන් විමසා බැලිය යුතු ය.

සුදුසු කල්හි දරුවනට දේපල පවරා දීම ද මවුපියන් ගේ යුතුකමෙකි. දෙමවුපියන් ගේ අභාවයෙන් දරුවනට ලැබෙන වස්තුව දෙනු ලබන්නක් නො ව උරුමයට අයිති වන්නකි. මෙ තැන දී බුදුරජාණන් වහන්සේ වදාළේ මැරෙන තුරු සිටින්නේ නැති ව දරුවන් ගේ දියුණුවට උවමනා අවස්ථාව නො වරදවා සුදුසු පරිදි දීම ද මවුපියන් ගේ යුතුකමක් බව ය.

# V

## පුත්‍රයෝ

මවුපියන් ගේ හිත සතුටින් හා ප්‍රේමයෙන් පුරවන්නෝ දරුවෝ ය, පුත්‍රයෝ ය. එ සේ නො ව මවුපියන් ගේ හිතට දුක් කරදර දෙන්නෝ දරුවෝ නො ව, මරුවෝ ය.

අතිජාත - අනුජාත - අවජාත වශයෙන් තුන් වැදෑරුම් වූ දරුවන් ගෙන් අතිජාත විය නොහැකි නම් අනුජාත වත් වන්නට හැම දරුවකු ම උත්සාහ ගත යුතු ය.

"මවු පියනට අඩු ගුණ පුත් අවජාත
ඔවු නට සමගුණ ඇතියේ අනුජාත
ඔවු නුදු ඉකුත් ගුණවත් පුත් අතිජාත
කිවු මුනිවරු වෙසෙසා මේ තුන්ජාත

මෙයින් අතිජාත පුත් රුවනක් වන්න
තදින් සිතට ගෙන වීරිය කරපන්න
එයින් මවුපියොත් නෑයොත් සලකන්න
පටන් ගනිති නුඹ මුදුනෙන් පිළිගන්න"

(බෞද්ධ ළමයා)

## හොඳ පුතා හා දුව

ඔවාදකාරී භතපොසී - කුලවංසං අහාපයං
සද්ධො සීලෙන සම්පන්නො - පුත්තො හොති පසංසියො.

(අංගුත්තර - පංචක නිපාතය)

මවුපිය ගුරුවර වැඩි සිටියන් ගේ අවවාද අනුව ක්‍රියා කරන්නා වූ, කුඩා කල තමන් පෝෂණය කළ දෙමවුපියන් පෝෂණය කරන්නා වූ, නුසුදුසු කතාවලින් හා ක්‍රියාවලින් කුලවංශය නො පිරිහෙළන්නා වූ හෙවත් කුල සිරිත් කඩ නොකරන්නා වූ, ශ්‍රද්ධාවෙන් හා ශීලයෙන් යුක්ත වූ පුත්‍රයා ඉතා ප්‍රශංසා කටයුත්තේ වේ. හොඳ ම පුතා වේ. එ බඳු දුව ඉතා ප්‍රශංසා කටයුත්තී වේ. (මෙහි පුත්ත යන ශබ්දය ද දූ පුතුන් දෙපිරිසට ම පොදු බව සැලැකිය යුතු ය.)

## දරුවන් ගේ යුතුකම්

තස්මාහි නෙ නමස්සෙය්‍ය - සක්කරෙය්‍යාථ පණ්ඩිතො
අන්නෙන අථ පානෙන - වත්‍ථෙන සයනෙන ච
උච්ඡාදනෙන නහාපනෙන - පාදානං ධොවනෙන ච
තාය නං පරිචරියාය - මාතාපිතූසු පණ්ඩිතා
ඉධෙව නං පසංසන්ති - පෙච්ච සග්ගෙ පමොදති.

(අංගුත්තර - තික නිපාතය)

බුදුරජාණන් වහන්සේ මවුපියන් ගේ ගුණ විස්තර කොට හොඳ දරුවන් විසින් මවුපියන් කෙරෙහි පිළිපැදිය යුතු අයුරු ද වදාළහ. මවු පියන් වැන්ද යුතු ය. ආහාරාදියෙන් ද, පානයෙන් ද, වස්ත්‍රයෙන් හා සෙනාසනයෙන් ද, සුවඳ දැ ඇඟ ඇතිල්ලීමෙන් හා නැහැවීමෙන් ද ඒ ඒ අවස්ථාවෙහි පා සේදීමෙන් හා තෙල් ඇල්ලීමෙන් ද සත්කාර කට යුතු ය. එ සේ කරන ගුණවත් දරුවනට මෙ ලොව දී ම නුවණැත්තෝ ප්‍රශංසා කෙරෙති. එ බඳු දරුවෝ මින් සැවැ දෙව්ලොව ඉපිද විපාක සුවයෙන් අධිකතර සතුටට පැමිණෙත්.

මවුපියන් වැඳීම ද පෙර සිට පැවැති යහපත් බෞද්ධ චාරිත්‍රයෙකි. පෙර රජවරු ආදි මහොත්තමයෝ පවා මවුපියන් වැඳීම ඉතා ආදරයෙන් කළහ. **අග්බෝ** ආදි බෞද්ධ රජවරුන් මවුපියන් වැන්දේ චෛත්‍යයක් ප්‍රදක්ෂිණා කරන්නාක් මෙන් ප්‍රදක්ෂිණා කෙරෙමින් ය.

පෙර සිටි අයියා කෙනකුන් තම මල්ලී මැණියන් කෙරෙහි නොනිසි ලෙස පැවැති විටක අම්මාට වඳින්නට කී ආකාරයෙන් එ වකට පැවැති බෞද්ධ ශිෂ්ටාචාරය කෙබඳු දැයි පැහැදිලි වේ.

"මල්ලියේ ඔහොම නො කරන් අපෙ අම්මාට
දෙතනේ කිරි දුන්නෙත් අප දෙන්නාට
තියෙන දෙයක් දෙන්නෙත් අප දෙන්නාට
බුදුන් වඳින ලෙස වැඳපන් අම්මාට"

මෙ කල සමහරු දෙමවුපියන් වැඳීම උවමනා නැතැ යි සිතති. ඇතැම් මවුපියෝ පවා වැඳුම් වළක්වති. එය නො මැනැවි. කුඩා කල පටන් මවුපියන් වඳිමින් පුදමින් ගරු කෙරෙමින් කීකරු ව හැදෙන දරුවා ලොකු වුව ද ඒ හොඳ ගති නොකඩ ව පුරුදු කරයි. මවුපියන් හිත් නො පෙළයි. එයින් මවුපියෝ ද සැනසිල්ලේ වෙසෙති. එ හෙයින් හොඳ බෞද්ධ දරුවන් දවසකට දෙවරක් නොහැකි නම් වරක් වත් නො වරදවා ම මවුපියන් වැන්ද යුතු ය. එ සේ ම ඉතා ආදරයෙන් මවුපියනට උපස්ථාන කට යුතු ය.

## මවුපියනට වැරැදි කිරීමේ ආදීනව

මුගලන් මහරහතන් වහන්සේ පෙර ජාතියෙක දී තම භාර්‍යාාව ගේ කීම අසා මවුපියන් මරන අදහසින් ඉතා දරුණු ලෙස ගැසූහ, ඒ පවින් ඒ ආත්මභාවයේ දී ම ඉතා දුකින් වාසය කොට ඉන් මැරී අපායෙහි උපන්නහ. ඉනුදු අකුශල කර්‍මය ඉවර නො වී අන්තිම ජාතියෙහි රහත් වීමෙන් පසු ව ද පන්සියයක් පමණ පල්හොරුන් ගෙන් පහර ලැබ හාල් මිටියක් තරමට ඇඟ ඇට කුඩුවී යැමෙන් ඉතා කනගාටු තත්ත්වයෙකින් පිරිනිවන් පෑහ. මෙයින් ම මවුපියනට වැරැදි කිරීමේ ආදීනව පැහැදිලි වේ. මවුපියන් නොසලකන්නා පිරිහෙන බවත් චණ්ඩාලයකු = අවාසනාවන්තයකු බවත් බුදුරජාණන් වහන්සේ වදාළහ. මවුපියන් ගේ හිතට දුක් දෙන දරුවෝ පව් සිදු කර ගන්නෝ ය, මරුවෝ ය.

## මවුපියනට සංග්‍රහ කිරීමේ අනුසස්

මවුපියනට උපස්ථාන කිරීම උපනුපන් ජාතිවල අනන්ත සැප ලැබීමට හේතු වන මහ පින්කමක් බව බුදුරජාණන් වහන්සේ වදාළහ. භික්‍ෂූන් වහන්සේ විසිනුදු මවුපියන් උපස්ථාන කට යුතු යයි වදාරා ඒ සඳහා ඇතැම් විනය ශික්‍ෂා පද ද ළිහිල් කළහ. මවුපියනට සලකන්නට කෙනෙක් නැත් නම් පන්සලට එක්ක අවුත් පිණ්ඩපාතය ගෙන දෙමින් කවමින් පොවමින් නහවමින් සියලු උපස්ථාන කිරීමට භික්‍ෂූනට ද ඉඩ දුන්හ. දෙමවුපියන් ශීලාදි ගුණයන්හි පිහිටුවීම හැමට වඩා උසස් සංග්‍රහය බවත් වදාළහ.

බුදුරජාණන් වහන්සේ, සැරියුත් මාහිමියන් වහන්සේ ආදී උතුමෝ ද මවුපියනට උපස්ථාන කිරීමෙන් ලොකයාට වටිනා ආදර්ශයක් දැක්වූහ. එ හෙයින් හැම බෞද්ධයකු විසින් තම මවුපියනට ඉතා ආදරයෙන් වැන්ද යුතු ය, පිදිය යුතුය.

## මෑණියන් ගේ ගුණ

"පිළිසුන් දවසැ සිට දස මස මුලුල්ලේ
දරමින් කුසිනි විඳ විඳ දුක් තැවුල්ලේ
තෙරුවන් පිහිට පතමිනි හැම ඇසිල්ලේ
දෙවියන් යදිති රකිනුව බැඳ ඇඳිල්ලේ

බිහි වුණු දින සිට ම රෑ නිඳි වරා ගෙන
රිහි රිම මිහිරි කිරි කැරැ කැරැ පොවා ගෙන
මිහි රෙව් සියලු කැත කුණු ගතැ වකා ගෙන
සිහි යෙනි නිබඳ සුව දුක රැක බලා ගෙන

කවා පොවා සරසා සිඹැ සනස්වතී
ඔවා දිදී සුසිරිත අප හසුරුවතී
ලවා ගුරුන් සිප් සතර ද උගන්වතී
දිවා රෑහි මවුවරු වැඩ සලස්වතී"

(බෞද්ධ ළමයා)

මවුවරුන් ගේ මේ ආදි ගුණ සිහි කරන හොඳ දූ දරුවන් විසින් දිනපතා දෙවරක් නොහැකි නම් නො වරදවා ම එක වරක් වත් වැන්ද යුතු ය. එය මහා පින්කමකි. එ සේ වඳින විට පහත සඳහන් කවිය ද කීම ඉතා මැනැවි.

"දිනේ පටන් මා උපන්න
මවු විඳි දුක් බැහැ කියන්න
දොහොත් මුදුන් තබා මෙන්න
වඳිමි මවුනි පින් ලබන්න"

## පියාණන් ගේ ගුණ

"දුරු බැහැරින් වත් දිවෙලක් සොයා යෙති
මරු කතරින් වත් වෙහෙසී දන සොයති
බොරු ගරු මන් හැර බැළ මෙහෙ වත් කෙරෙති
මරු මුව වත් නමුදු දරුවන් සුව යොදති

සාපවසින් මිරිකී දිවෙලෙහි යෙදෙති
බෝසුළුවෙන් යැපෙමින් දරුවන් වඩති
මේ අයුරින් දිව රෑ පියවරු හිතැති
දූ දරුවන් පිණිස ම හැම දුක් විඳිති"

(බෞද්ධ ළමයා)

පියවරුන් ගේ මේ ආදි ගුණ සිහි කරන හොඳ දූ දරුවන් විසින් දවසකට දෙවරක් නොහැකි නම් නොවරදවා ම එක්වරක් වත් වැන්ද යුතු ය. එය මහා පින්කමෙකි. එ සේ වඳින විට පහත සඳහන් කවිය ද කීම ඉතා මැනැවි.

"දිනේ පටන් මා උපන්න
පිය විඳි දුක් බැහැ කියන්න
දොහොත් මුදුන් තබා මෙන්න
වඳිමි පියෙනි පින් ලබන්න"

'බෞද්ධ ගෙදර' පොතිනි.
මෙහි මුල් කොටස් තුන 1954 දී 'සිංහල බෞද්ධයා' පත්‍රයෙහි ද පළ විය.
ප්‍රඥාප්‍රභා 3

යතුරුලිවීම: ඇම්. ඒ. බන්‍දුල මහතා